# භාවනා උපදෙස් 11

## ප්‍රපංච

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස
නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

බුද්ධං ධම්මං සංඝං නමස්සාමි

"පූජාරහේ පූජයතෝ බුද්ධේ යදිව සාවකේ
පපංච සමතික්කංතේ
තින්නසෝක පරිද්දවේ තීතී"

පූජනීය මහා සංඝ රත්නය ප්‍රධාන මැණිවරුන්ගෙන් අවසරයි ! බෝලන්කන්ද තපෝ අරණට පැමිණිච්ච ඔය ඇත්තො සැම සියළු දෙනාම වගේම, අන්තර්ජාලය ඔස්සේ අප හා සම්බන්ධ වෙන සැම සියළු දෙනාවමත් බොහොම සාදරයෙන් පිළිගනු ලබනවා. පින්වතුනි, මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාව කේන්ද්‍ර කරගත්ත අපක්ෂපාතී නිරීක්ෂණය දෙවන අදියර යටතේ පැවැත්වෙන භාවනා උපදෙස් වැඩසටහන් මාලාව අද සිද්ධ වෙන්නේ එකොළොස් වෙනි සැසියයි. එකොළොස් වෙනි වාරයයි.

මේ තාක් දුරට අපි මේ සතිපට්ඨාන භාවනාව කියන දිශානතිය ඔස්සේ ඔය ඇත්තන්ව රැගෙන ආවා භාවනාවට මූලිකත්වයක්ම දරන, ආරම්භකයක්ම තියන කෙනෙක්ගේ පටන්ම මේ ගමන ඉදිරියට අරන් යන්නෙ, ඉදිරියට ක්‍රියාත්මක කළ යුතු වෙන්නෙ කොහොමද කියන උපදේශයන් එක්කම. ඉතින් පහුගිය සති දහය ඇතුලත අපි කතාබහට ලක් කලේ, භාවනාවක් කරනකොට අපේ හිතේ නිතර නිතර රැව් පිළිරැව් දෙන, අපිට කරදර බාධක වෙන, ගැටළු වෙන, භාවනාවකට විතරක් නොවුනත් සාමාන්‍ය ජීවිතයේදී පවා අපිට මහත් සේ කරදර බාධක පමුණුවන කාරණාවල් හඳුනා ගන්නෙ කොහොමද? ඒ කාරණාවලින් නිදහස් වෙන්නට බුදුරජාණන් වහන්සේ සතිපට්ඨානය කියන මාතෘකාව ඔස්සේදී අපිට කියල දීල තියන ක්‍රමය ගැන යම්කිසි විදියකට ඔය ඇත්තො රැගෙන යනනනයි උත්සාහ කලේ.

ඉතින් අද දවසේ මාතෘකාව අපි ආරම්භ කරපු චිත්ත රීති කියල කියන ඒ අංශය යටතේ යන, ගිය සතියේ කතා කරපු ශෛලගතවීම කියන ඒ අංශයටම ඉතාම කිට්ටු මාතෘකාවක්. අද මාතෘකාව තමයි 'ප්‍රපංච'.

මේ වචනය ඇත්තටම කියනව නම් ධර්මය පැත්තෙන් අපි අහල තියෙන්නේ ටිකක් ගැඹුරු සහ විස්තර කරන්න අමාරු වචනයක් හැටියටයි. මාත් ඒක ඒ විදියටම පිළිගන්නවා. හැබැයි සතර සතිපට්ඨානය කියල කියන දේශනාව ඔස්සේ අපේ මේ ගමන අරන් යනකොට පින්වතුනි අපිට අවස්ථාවක් හම්බ වෙන්න ඕන ඔය කියන ප්‍රපංචයන් හඳුනා ගන්න.

අපේ සාමාන්‍ය ජීවිතයක් ගත්තහම දවසක් ඇතුලත අපිට හිතෙන සිතුවිලි ප්‍රමාණය මෙච්චරකැයි කියන්න අමාරුයි. එච්චර අපිට සිතුවිලි හිතෙනව. කල්පනා කෙරෙනව. යම්කිසි දෙයක් දැක්කහම හෝ යම්කිසි දෙයක් ඇහුනහම, යම්කිසි ගඳ සුවඳක් දැනුනහම යම් ස්පර්ශයකදී යම්කිසි රසයක් දැනුනහම සහ හිතටම මොකක් හරි අදහසක් ආපුහම තමයි අපි හිතන්න පටන් ගන්නෙ. ඇහැට දකින රූපයත්, ඇසත් මේ හඳුනා ගැනීම කියල කියන (චක්ඛු විඥ්ඥාණය කියල කියනව ඕකට) මේ කාරණා තුනෙහි ආරම්භයක් වුනා නම් ඔතන අපි සමවැදිල තියනවා, අපි කිට්ටු වෙලා තියනවා, යා වෙලා තියනවා අපි දකින රූපය ගැන හිතන්න. තථාගතයන් වහන්සේ දේශනා කරන්නෙ පින්වතුනි

"චක්ඛුං පටිච්ච රූපේසු උප්පජ්ජති චක්ඛු විඥ්ඥාණං"

මේ චක්ඛු විඥ්ඥාණයත් නිකං ඇති වෙන්නෙ නැහැ. ඒක වෙන්නෙ මෙන්න මෙහෙමයි.

දැන් මේ බෝලන්කන්දෙ ඉන්න ඔය ඇත්තො වෙන්නත් පුළුවන් අන්තර්ජාලය ඔස්සේ සම්බන්ධ වෙලා ඉන්න ඇත්තො වෙන්නත් පුළුවන්, ඔය ඇත්තන්ට හාමුදුරුවො දිහා බලන්න පුළුවන් හැබැයි ඔහේ බලාගෙන ඉන්නව විනා හරියට දකින්නෙ නැතුව. අපේ හිත හරියාකාරව බැසගෙන නැතිනම් හාමුදුරුවො කියන කෙනා කෙරෙහි, (අපි කියමුකො උන් වහන්සේගේ ශරීරය කෙරෙහි කියල) එහෙම හිත බැහැගෙන නැතිනම් අපිට ඒ රූපෙ හරියට පේන්නෙ නැහැ.

ඔය ඇත්තන්ට හොඳ උදාහරණයක් කියන්නම්. ඔය ඇත්තො මම දිහා දකිනකොට බලනකොට මගේ වම් අත පැත්තෙ තියන මේ පිළිම වහන්සේලා හරි මගේ ගුරු හාමුරුවරුන් වහන්සේලාගෙ පින්තූර හරි බොඳ වෙලා පේන්න පුළුවන්. පේනවා, නැතුව නෙවෙයි. බොඳ වෙලා තියෙන්නෙ. ඒක එච්චර පැහැදිලි නැහැ.

"චක්ඛුං පටිච්ච රූපේසු උප්පජ්ජති චක්ඛු විඥ්ඥාණං"

ඇහැට රූපය කියන දේ හරියාකාරව ගොනු වුනාට පස්සෙ විතරයි මේ තුන සම්බන්ධ කරන්න පුළුවන් විඥ්ඥාණය උපදින්නෙ. ඔය ඇත්තො මං දිහා බලපුහාම හරියට මාව හඳුනාගන්න ඔය ඇත්තන්ට හිතට ඇති වෙන අදහසත් එක්ක, ඒ අදහස පහළ වෙච්ච ගමන් තමයි ඔන්න චක්ඛු විඥ්ඥාණය ඇති වෙන්නෙ. හිතේ සම්බන්ධතාවය ඇති වෙන්නෙ. අපි කියනව ඕකට **connection** එක කියල අද කාලෙ. **Signal** එනව කියල කියනව. එහෙත් ෆෝන් එකක් තියනව, මෙහෙත් ෆෝන් එකක් තියනවා අපි රින් කරනකොට මේක හරියටම ඒ අංකෙට ගිහිල්ල වැටිච්චහම මොකද වෙන්නෙ ආ සද්දෙ එනව. කෝල් එකක් යන්නෙ මෙහෙමනෙ. ඔය තාලෙම තමයි.

"චක්ඛුං පටිච්ච රූපේසු උප්පජ්ජති චක්ඛු විඥ්ඥාණං" "තින්නං සංගති පස්සෝ"

මේ තුන නිකම්ම තිබිලත් බෑ. අපි මේ ඇහැට දකින රූපයයි, අපේ මේ ඇහැයි, මේ බලන්න උවමනාකම කියන මේ කාරණාවයි එකතු වෙච්ච තැන තමයි ස්පර්ශය ඇති වෙන්නෙ. පැත්තක තිබිලත් බෑ. හරියට එකතු වෙන්න ඕනෙ.

"තින්නං සංගති පස්සෝ පස්ස පච්චයා වේදනා"

ඊළඟට බලන්න අපි ස්පර්ශ වුනාට පස්සේ (ඕකට කියනව අපේ භාෂාවෙ වචනයක් දැහැන් ගත වෙනවයි කියල) සම වැදුනට පස්සෙ අන්න පේන්න පටන් ගන්නව. මං දැන් ඔය ඇත්තො දිහා බලාගෙන යනකොට ඔය එක්කෙනෙක් දිහා බලන්න ඕන නම්, ඇත්තටම ඒ කෙනා රෙහිම අවධානය යොමු කරල නතර වෙන්න ඕන මොහොතක්. ඔන්න දැහැන් ගත වෙනවා කියන එක.

"තින්නං සංගති පස්සෝ පස්ස පච්චයා වේදනා"

හා.. ඒ විදියට මනාකොට හඳුනාගෙන නතර වෙලා බලනකොට තමයි ඒ රූපය වින්දනය කරන්න පටන් ගන්නෙ අපි. ඔය ඇත්තො මේ පින්තූර දිහා ඔහේ බලාගෙන යන්න පුළුවන්. නමුත් මොහොතක් නතර වෙලා බලන්න වුනොත් තමයි ඒ ස්වභාවය නැත්නම් ඒ තියන පින්තූරෙ මොකද්ද? හැඩේ මොකද්ද? ලස්සනද? කැතද? ඔය කියන ආදී වශයෙන් අදහස් පහළ වෙන්නෙ.

"යං වේදේති තං විතක්කේති"

අපි ඒ විදියට වින්දනය කරනවා නම් ඒක ගැන තමයි හිතන්නෙ.

"යං විතක්කේති තං පපංචේති"

මේ කියන ස්වභාවයට එනකං අපි අපේ හිත් මෙහෙයවලා නම් තියෙන්නෙ, (අනිවාර්යයෙන්ම මෙහෙයවනවමයි දැන හෝ නොදැන) ආ ඒක ඊළඟට ප්‍රපංච කරන්න ගන්නව. ප්‍රපංචය කියල කියන්නෙ ආයෙ ආයෙ අර හඳුනාගත්ත ස්වභාවයෙන් යුක්තවම නැවත නැවත නැවත නැවත හිතන්න අපිව තල්ලු කරවනව, අර හිතට ගත්ත අදහසට අනුව. ඒ හිතට ගත්ත අදහසට අනුව.

දැන් ඔය ඇත්තො ඔහේ ඉඳල බලනකොට මං දිහා, "අද හාමුදුරුවො තරහෙන් ඉන්නෙ" කියල හිතුවයි කියන්නකො. "අමනාපෙන් ඉන්නෙ" කියල හිතුවයි කියන්නකො. "සතුටින් ඉන්නෙ" කියල හිතුවයි කියන්නකො. මේ ඕනම පැත්තකින් ඔය ඇත්තන්ට ඊළඟට පේන්න පටන් ගන්නව. ඒක එතකොට හාමුදුරුවො අමනාපයෙන් ඉන්න හින්දද හාමුදුරුවො සතුටින් ඉන්න හින්දද ඔය ඇත්තන්ට පේන්නෙ? ඔය ඇත්තො ඒ විදියට හිතා ගත්ත හින්දද ඒ විදියට පේන්නෙ?

ඔය ඇත්තො ඒ විදියට හිතා ගත්ත හින්ද. මේ විදියට හිතා ගත්ත දේට නැවත නැවත නැවත නැවත අපිව තල්ලු කරල දාන ඒ ධර්මතාවයටයි කියන්නෙ පින්වතුනි ප්‍රපංච කියල. එතකොට ඒක ඒ පැත්තට පෙරලෙනව නම් ඒ පැත්තෙ තියන විදියට හිතනව,

මේ පැත්තට පෙරලෙනව නම් මේ පැත්තෙ තියන විදියට හිතනව. මේ කියන උගුලේ ඔය ඇත්තොත් මමත් එක දවසක් ඇතුලෙ කොච්චර නම් වෙලාවක් ගත කරල ඇද්ද. නේ? වරු කීයක් නම්, අවුරුදු කීයක් නම් ගත කරල ඇද්ද?

බුදුරජාණන් වහන්සේ දේශනා කරන හැටියට පින්වතුනි සාංසාරික ජීවිතයක් ගෙවන ලෝකයා, ඔබත් මමත්, (අපි ඔක්කොම) මේ සංසාරෙ ගෙනියන්නෙම ඕක හින්ද තමයි. යම්කිසි කෙනෙක් කෙරෙහි අපි හොඳයි කියල හිතනව, යම්කිසි දෙයක් කෙරෙහි අපි හොඳයි කියල හිතනව, ඒ දේ හොඳ හැටියට දරාගෙන ඉන්නව අපි හිතපු හින්ද. යම්කිසි කෙනෙක් කෙරෙහි අපි හොඳ නැහැයි කියල හිතාගෙන ඉන්නව, යම්කිසි අවස්ථාවක් සිද්ධියක් කෙරෙහි අපි හොඳ නැහැයි කියල හිතාගෙන ඉන්නව, යම්කිසි සුවඳක් වෙන්න පුළුවන්, යම්කිසි ශබ්දයක් වෙන්න පුළුවන්, ස්පර්ශයක් වෙන්න පුළුවන්, සිතුවිල්ලක් වෙන්නත් පුළුවන්, අපි හොඳ නැහැයි කියල හිතුවොත් එහෙම ඒ අනුසාරයෙන් ඒ අනුසාරයෙන් ඒ විදියට හිතන්න අපිව යොමු කරවනව.

මේක තමයි හිතක තියන සාමාන්‍ය රටාව. සාමාන්‍ය විදිහ. විලාසය. ඔය කියන උගුලේ ඔය ඇත්තොත් මමත් පින්වතුනි හිර වෙලා ඉන්න තාක්කල් මේ ලෝකෙ කොහේ හරි හොඳක් තියනකොට අපේ හිත අපිට ඒ හොඳ දකින්න නෙවෙයි පාර පෙන්නන්නෙ. ඇයි අපි බලන්නෙ කණ්නාඩිය දාගෙනනෙ. නේද? එතකොට ඒ තියන කාරණේ තියන විදියටම දකින ස්වභාවයට අපිව ගොනු කරල තියන, තල්ලු කරල දාන මේ ධර්මතාවයට තමයි කියන්නේ ප්‍රපංච කියල.

මේ ප්‍රපංච කියල කියන දේ, නැත්නම් මේ විදියට තල්ලු කරල දාන එක පින්වතුනි, ඇහැට දකින රූපයට කනට අහන සද්දයට නාසයට දැනෙන ගඳ සුවඳට, දිවට දැනෙන රසයට, ශරීරයට දැනෙන ස්පර්ශයට වගේම හිතට එන අරමුණටත් බලාත්මක වෙනවා. ක්‍රියාත්මක වෙනවා.

අපි නිකං දවසක් අරගෙන බැලුවොත් එහෙම, අපි සමහර කාරණා ගැන අදහස් ඇති කරගෙන තියෙන්නෙ, එල්ඹගෙන තියෙන්නෙ, සිතුවිලි හදාගෙන තියෙන්නෙ, හුරු වෙලා තියෙන්නෙ ඇහැට දැකපු රූප හින්දාම නෙවෙයි නේද? ඒව හින්ද විතරක්ම නෙවෙයි නේද? කනට අහපු සද්දයටත් එහෙමයි.

සමහර දේවල් ගැන අපි නිමග්න වෙලා තියනව පින්වතුනි නාසයට දැනිච්ච ගඳ සුවඳෙන්. සමහර ඒව දිවට දැනිච්ච රසය හින්ද. සමහර ඒව ශරීරයට දැනිච්ච ස්පර්ශය හින්ද. හිතට ආපු අරමුණු හින්දත් ඒ වගේම තමයි. මේ කියන දේවල්වල තියන හැම දේකම පින්වතුනි තියනවා තල්ලු කිරීමක්.

දැන් පහුගිය දේශනාවේ මාතෘකාව වුනේ ශෛලගතවීම. මේ සතියේ ප්‍රපංච. ශෛලගත වීම කියල මට කියන්න ඕනකම තිබුනේ එක විදියකට විතරක්ම හිතන්න බලනවා කියලා. ප්‍රපංච කියල කියන්නේ මොන විදියකට හිතුවත් කමක් නෑ ඒ ඕන දේකට තල්ලු කරනව. ඒ ඕනම දේකට තල්ලු කරනව. එයා ගාව තමයි වින්දනය තියෙන්නෙ. ඒ ඕන පැත්තකට හිතනව. ඇලි ඇලී ඇලි ඇලී ඒ අනුසාරයෙන් හිතනව. කවදාවත් ඒ අනුසාරයෙන් හිතද්දි කල්පනා කරද්දි සැනසීමක් හම්බ වෙයිද?

අපිට දැන් තේරෙනව නෑ කියල. හැබැයි අපි මේක කරන්නෙ නැද්ද? අපි මේක කරනව. මේකෙන් අයින් වෙන්න අපිට තේරෙන්නෙ නෑ. ඔන්න ඔය කියන තැනටයි පින්වතුනි අද මට ඔය ඇත්තන්ව අරගෙන යන්න ඕනකම තිබ්බෙ. මේ කියන ප්‍රපංචගත වීමෙන් අපේ හිත නිදහස් කරගන්න බුදුරජාණන් වහන්සේ අපිට කියල දීල තියන මාර්ගය මොකද්ද කියල කියල දෙන්න.

ඔය ඇත්තො දැන් පිළිගන්නවා ඇත්තටම අපේ ජීවිතය තුල අපි රූප, වේදනා, සංඥා, සංඛාර, විඥ්ඥාණ කියන මේ පංචස්කන්ධය උපාදාන කර ගන්න භාවිතා කරන ඇස, කන, නාසය, දිව, කය, මනස මේ ආයතනයන් ටික භාවිතා කරනකොට ඔය විදිහෙ තල්ලු කිරිල්ලක් තියනවා තියනවාමයි. ඒ විදියට හිතේ හදා ගත්ත, ඇති කරගත්ත, සටහන් කරගත්ත, තැන්පත් කරගත්ත කාරණාවල් එක්ක අපි අපේ ජීවිතේ ගෙවනව.

තථාගතයන් වහන්සේ ඕකට කියනව අවිද්‍යාව කියල. හේතුව සංසාරයක් තියන හින්ද. සංසාරය තියෙන්නෙ කොහොමද? අපි ඒ හිතේ හදා ගත්ත, ඇති කරගත්ත අදහසෙන් අපි නිදහස් වෙලා නැති නම්, අපිට නිවීමක් තියනවද එහෙනම්? අපිට නිවීමක් නෑ. හැබැයි වැඩේ තියෙන්නෙ මොකද්ද? අපි නිවීමක් නෑ කියල දැක්කා වුනාට ඒකෙන් අපිට අයින් වෙන්නත් බෑ. ඇයි අයින් වෙන්න බැරි? මට මොනවද තියෙන්නෙ එහෙම නැත්නම්?

ඇත්තටම කියනව නම් අපිට කියල තියාගෙන තියෙන්නෙ ඔය කියන ප්‍රපංච ගොඩ තමා. ඔය කියන තණ්හාවේ ලාටුව තමයි පින්වතුනි. මේක අයින් කරනවා කියන එක පුදුමාකාර උප්පරවැට්ටියකින් වෙන්න ඕන දෙයක්. මොකද අපේ ජීවිතේ අපි හැම දෙයක්ම කරන්නෙ තණ්හාවෙන් යුක්තව. සරල උදාහරණයක් කියන්නද?

එක අතකින් මේක සංස්කෘතියක් තමයි, ඒ වුනාට ඔය ඇත්තො පන්සලකට සුදු පාට ඇඳුම් ඇඳන් එන්නෙ. ඒක අපිට ඕන දැන්. නේ? ඒක අපි කරන්න ඕන දෙයක්. මම ඒක වැරදියි කියන නෙවෙයි මේ. නමුත් මේ තමයි අපි පුරුදු වෙලා තියන විදිය. ඔය ඇත්තො නාන්න යනකොට මං හිතන්නෙ නෑ මඟුල් ගෙදරකට වගේ ඇඳුම් අඳියි කියල. ඒ ඒ තැනට සුදුසු විදියට. ඒක ඒ තරමටම සරලයි. නමුත් සිද්ධ වෙන්න යුතු කාරණාව ගැන නෙවෙයි මම මේ කියන්නේ අපිව දුකට ඇදල දාන සිතුවිල්ල නැවත නැවත නැවත නැවත හිත හිතා, කල්පනා කර කර, අපිව මේ උගුලේ පටලවන, මේකටම අලවල තියන ධර්මතාවය තමයි ප්‍රපංච කරනව කියල කියන්නෙ. ප්‍රපංචය.

අපි කැමතියි ඒ විදියට හිතන්න. ප්‍රශ්නයක් නැති වෙන්න පුළුවන්, කාරණාවක් නැති වෙන්න පුළුවන්, අපි හරි කැමතියි ඒ විදියට හිතන්න. ඕක සංතෝසයක් ගෙනදෙන කාරණාවක් කෙරෙහි කල්පනා කරනව නම්, මෙනෙහි කරනව නම් තව එක අතකින් හොඳයි. එහෙම නැති එකයි තියන ප්‍රශ්නෙ.

කාරණය තියෙන්නෙ පින්වතුනි දේශනාවක් කරනකොට ඔය ඇත්තන්ටත් අවබෝධයක් එන්න පුළුවන්, තේරෙනව, ඇත්ත තමයි මේ හාමුදුරුවො මේ කියන්නෙ කියල. වැඩේ තියෙන්නෙ මොකද්ද දන්නවද? ඕක ඔහොම තියන එක අපේ ජීවිතේට

හරියට භාවිතා කරන්නෙ කොහොමද? කියල ඉගෙන ගන්න එකයි රහස. ඉගෙන ගන්න එකයි රහස.

ඔය ඇත්තො ඕන තරම් බණ අහල ඇති. දේශනාවලට සවන්දීල තියනවා. ඒ දේශනා කරනකොට හරි හොඳට ගොඩක් ධර්ම ඥානය එනවයි කියල හිතෙනව. හරී සංතෝසත් වෙනවා. හැබැයි ගෙදර ගියාට පස්සෙ? හෝද හෝද මඩෙත් දානව. නේ?

එතකොට සතිපට්ඨානය කියන මේ ක්‍රියාකාරීත්වයෙන් තමයි පින්වතුනි අපිට කියල දෙන්නේ, ඔය කියන දේශනාව තුල තියන ඒ වැඩකටයුත්ත කොහොමද අපේ ජීවිතේට ගලපා ගන්නෙ? කියල.

එතකොට මට ඇත්තටම ඕනකම තිබ්බෙ ප්‍රපංචය කියන්නෙ ඇත්තටම මෙන්න මේකයි කියන අදහස පළවෙනියෙන්ම ඔය ඇත්තන්ගෙ ඔළුවට දාන්න. ඒකෙන් අපිට කොච්චර වදයක් තියනවද, කරදරයක් තියනවද කියන එක ගැන කියල දෙන්න. ඊට පස්සෙ පින්වතුනි අපි බලමු, අද දවසේදී ඊළඟට කරන භාවනාව තුලින් අපිට හම්බ වෙන්න පටන් ගනීවී ඔය ප්‍රපංච කියන එකට අපි කොච්චර යට වෙලාද කියල.

සරල උදාහරණයක් ගත්තොත් භාවනාවට වාඩි වෙලා පොඩ්ඩක් යනකොට මොකක් හරි වේදනාවක් ආව කියන්නකො. මතකයක් ආවොත් එහෙම ඊට කලින් වතාවෙත් භාවනා කරද්දි මේක තිබ්බාමයි කියලා, අපි මේක ඊළඟට හැමදාම හිතන්නෙ ඔය තාලෙන්ම තමයි. අපි මෙහෙම එකක් ගමුකො. මේක නම් ටිකක් අමුතු කතාවක්.

කොහෙට හරි ගිහිල්ල කතා කරන්න හිතුනොත් පළවෙනි වතාවෙදි නිකං ආගන්තුක වෙන්න පුළුවන්. දෙවනි වතාවෙ අපි නිකං ඒ විදියට කතා කරන්නත් පටන් ගන්නව. ඒ අනුසාරයෙන්.

හිතන්නකො කෙනෙක්ට 'ඔයා' කියල කතා කරන්නත් පුළුවන්. නැත්නම් බනිනින්නත් පුළුවන් 'උඹ' කියල. පළවෙනියෙන් නම් ඒ විදියට කියනකොට හරි අමාරුයි වගේ. නමුත් ඊළඟට ඊළඟට ලේසියි. පුරුදු වෙනව. හිත තල්ලු කරවන්නෙ අර විදියටම කතා කරන්න. ඒ විදියටම වැඩ කරන්න. ඒ විදියටම හිතන්න. මේක කරන්නෙ ප්‍රපංච තමයි. ඒ විදියට අපිව මේ උගුලේම හිර කරවල තියන්නේ ප්‍රපංච තමයි.

එතකොට පින්වතුනි භාවනාවක් කරනකොට අපේ හිතට ඔය කියන දේවල් නැඟෙන්න පටන් ගන්නව. "මේ දැනෙන ආශ්වාසයමයි මට ඊයෙත් දැනුනෙ හෝ ඊට කලිනුත් දැනුනෙ, මේ දැනිච්ච වේදනාවමයි මම ඊට කලිනුත් බුක්ති වින්දෙ" කියල. මේකෙ මෙහෙම එකක් නෑ.

බුදුරජාණන් වහන්සේ අපිට කියල දෙන්න හදන පණිවිඩෙ තුල තියෙන්නෙ පින්වතුනි හැමදේකම තියනවා ආරම්භයකුයි පැවතීමකුයි නැතිවීමකුයි. හැබැයි ප්‍රපංච වලින් අපිට උගන්නන්නෙ මොකද්ද දන්නවද? ප්‍රපංචවලින් අපිට කියල දෙන්නෙ මොකද්ද දන්නවද? මේ අර පරණ එකමයි තියෙන්නෙ කියල. මේ අර පරණ දේමයි තියෙන්නෙ කියල. අපි අළුත් නෑ. ඔන්න ඔතනයි ගැටළුව.

අද දවසේදී අපි ජීවත් වෙනවා වෙන්න පුළුවන් පින්වතුනි ඊයෙ විදියට ඊයෙ හිතේ හදාගත්ත විදියට කතා කරන්න. ඊයෙ හිතා ගත්ත නම් මේ විදියට කතා කරන එක හරියි කියල, මේ විදියට හිතන එක හරියි කියල, අදත් ඒ විදියට හිතනව වෙන්න පුළුවන්, අදත් ඒ විදියට කතා කරනව වෙන්න පුළුවන්. එතකොට අපි ඇත්තටම අද ජීවත් වෙනව කියල කියනවට වඩා තාමත් ඊයෙ ජීවත් වෙනව කියල කියන එක සාධාරණයි නේද? මොකද ඇඟ අද වුනාට, ඇඟ වර්තමානයෙ වුනාට, හිත තියෙන්නෙ අතීතයෙ. හිත වෙන කොහේ හරි තියෙන්නෙ.

ඔය වගේ තියන පුරුදු ගණන් කරොත් එහෙම ඉහේ කෙස් ගාණට වඩා අඩු වෙයිද වැඩි වෙයිද? අන්න ඒකයි ගැටළුව. ඒකයි මේ සංසාරය කියන මේ උගුල එච්චරටම ලිහා ගන්න අමාරු පින්වතුනි. එච්චරටම ගලව ගන්න අමාරු වෙන්නෙ. අන්න ඒකෙන් නිදහස් වෙන්නටයි බුදුරජාණන් වහන්සේ අපිට දේශනා කරන්නේ සතර සතිපට්ඨානය. ඒ දේශනා කරන දේශනාව තුලින් ලැබෙන සාරයෙන්, ඒ ලැබෙන අවබෝධයෙන් අපේ ජීවිත ඔය කියන දුකෙන් නිදහස් කරවන්නටයි මඟ හදල දෙන්නෙ, පාර හදල දෙන්නෙ.

එතකොට අපි හඳුනා ගන්න ඕන ප්‍රධානම කාරණා ටික තමයි පින්වතුනි, අපේ ජීවිතය තුල යම්කිසි කාරණාවක් කෙරෙහි අපිට ඕනවට වඩා තල්ලු කිරීමක් තියනව නම්, බලපෑම් කිරීමක් තියනව නම්, ඒ විදියටම අපි හිතනවා නම්, අපි ඉන්නේ අපේ සිහිය කියන පරාසයේ නෙවෙයි.

අපි ඇහෙන් රූපය දකිනව වෙන්න පුළුවන්, හොඳට කනට සද්දය අහනව වෙන්න පුළුවන්, මේක හොඳට තැන්පත් වෙලා තියනව කියල තේරෙන්නත් පුළුවන්, මං අර ඉස්සෙල්ල කතා කරා වගේ දැහැන් ගත වෙන්නත් පුළුවන්, සම වදින්නත් පුළුවන්, හැබැයි ඊට පස්සෙ හිතන්න පටන් ගත්ත ගමන් ඊළඟට අපිව යන්න ගන්නෙ කොහොමද? අර විදියටම හිතන්න ඕන, අර විදියටම බලන්න ඕන, ඒ විදියටම ස්පර්ශ කරන්න ඕන, මේ රටාවටම තමයි. ආයෙ ගැලවිල්ලක් නෑ අපිට.

මේක හරියට කොම්පියුටර් එකක මද(ර්) බෝඩ් එක වගේ. අපේ හැම අවස්ථාවකටම හැම කාරණයකටම මේක තියනවාමයි. මේ කියන වැඩපිළිවෙල, උගුල තියනවාමයි පින්වතුනි. එතකොට අපි අපේ ධර්ම මාර්ගය තුල හදාරන්න පටන් ගන්න ඕන තමන්ගෙ ජීවිතයේ තමන්ට දුක ඇති කරවල දෙන, තමන්ට කරදරය ඇති කරවල දෙන, බාධකය ඇති කරවල දෙන, ඒ කාරණා මොනවාද? ඒවගෙන් නිදහස් වෙන්නෙ කොහොමද? කියල. අන්න ඒ ටික හදා ගන්න ඕන.

එහෙම කරන්න පුළුවන්කමක් තිබුබොත් ඊයෙ හිතා ගත්ත විදියට අද කතා කරන්නෙ නැති වේවි අපි. ඊයෙ අදහස් දරන්න පටන් ගත්ත විදියට අද අදහස් දරන්නෙ නැති වේවි. අපි අළුත් වෙන්න පටන් ගන්නව. අපි නව්‍ය වෙනව. අපි වෙනස් වෙනව. ඒ අළුත් වෙන්නෙ, නව්‍ය වෙන්නෙ, වෙනස් වෙන්නෙ වෙන මොකෙන්වත් නෙවෙයි ඊයෙ හදා ගත්ත දේ, ඊයෙ හිතාගත්ත දේ දුකක් නම් ඒ දුකෙනුයි නිදහස් වෙන්නෙ. තේරුනාද? ඒ කරදරයෙනුයි නිදහස් වෙන්නෙ. ඒ බාධකයෙනුයි නිදහස් වෙන්නෙ.

ඉතින් ඔන්න ඔය කියන කාරණාවයි මට අද ඔය ඇත්තන්ට කියල දෙන්න ඕනකමක් තිබ්බෙ. අද දවසේදී අපි මේ කතා කරපු කාරණාවෙනුත් ඔය ඇත්තන්ගෙ ජීවිතේට යම්කිසි වූ අවබෝධයක් ලැබුනා නම්, එය බොහෝ කාලයක් යහපත පිණිස පවතීවා කියල මම බලාපොරොත්තු වෙනව.

සියළු දෙනාටම තෙරුවන් සරණයි !

පූජනීය පදියතලාවේ මේධාවි හිමි